සෝවියට් ජනකතා

ද. නගිෂ්කින්



# ඇයෝගා

උතුරුදිග ජනකතා



ප්‍රගති ප්‍රකාශක මන්දිරය

මොස්කව්



ඈත උතුරේ එකෝමත් එක රටක නෙනෙට්ස් ජාතිකයෙක් හිටියා. එයාගේ නම ලායි. එයාට පුංචි දුවක් හිටියා. ඈගේ නම අයෝගා. ඈ බොහොම ලස්සනයි. හැම දෙනාම ඈට ආදරය කළා. ඒ රටේ හිටිය හැම දෙනාම කිව්වා ලායිගේ දුව, අයෝගා තරම් ලස්සන පුංචි ළමයෙක් ඒ රටේ විතරක් නොවෙයි, වෙනත් රටවලත් නැතැයි කියලා.



අයෝගා බොහොම ආඩම්බර වෙලා හැම තිස්සේම තමාගේ මූණ බලන්ට පටන් ගත්තා. හොඳට ඔප වැටෙන කල් මැදපු පිත්තල බන්දේසිය දිහා ඈ බලනවා. එතකොට ඈගේ මූණ ඈට පේනවා. එහෙමත් නැතිනම්, ඈ වතුර දිහා



බලාගෙන ඉන්නවා. වතුර දිහා බලනකොටත් කෙනෙකුගේ මූණ පේනවා නොවැ. කොච්චර බැලුවත් බලාලා ඉවරයක් නැහැ.

අයෝගා කිසිම වැඩක් පලක් කරන්නේ නැහැ. හැම තිස්සේම තමාගේ රූපය දිහා බලනවා. අයෝගා කම්මැලි ළමයෙක් වුණා.

දවසක් අම්මා අයෝගාට කතා කළා:

''අයෝගා දුවේ! ගිහිල්ලා වතුර ටිකක් ගෙනෙන්!''

''මට බැහැ. මාව වතුරට වැටේවි,'' අයෝගා පිළිතුරු දුන්නා.

''නුඹ ගහ ළඟ තියෙන පඳුරක් අල්ලා ගනින්.''

''පඳුර කැඩිලා, ගැළවිලා යාවි,'' ආයෙමත් අයෝගා කිව්වා.

''නුඹ හයිය ඇති පඳුරක් අල්ලා ගනින්!''

''ආ, එතකොට මගේ අත් සීරිලා යාවි...''

''එහෙනම් අත් වැසුම් ද ගනින්'' අම්මා අයෝගාට කිව්වා.

''අත් වැසුම් ඉරිලා යාවි.'' අයෝගා පිළිතුරු දුන්නා.



අම්මත් එක්ක එකට එක කතා කරන ගමන් පිත්තල බන්දේසියෙන් මූණ බල බලා සතුටු වෙනවා.

''අත් වැසුම් ඉරුණොත් මහ ගනින්.''



‘‘ඉඳි කටුව කැඩිල යාවි.’’

‘‘එහෙනම්, දුවේ, මහත ඉඳි කටුවකින් මහපන්.’’ තාත්තා අයෝ්ගාට කිව්වා.

''මට බැහැ. මගේ ඇඟිලි තුවාල වේවි.'' අයෝගා කිව්වා.

''නුඹේ ඇඟිල්ල තුවාල නොවෙන්ට පුංචි දිදුලයක් ඇඟිල්ලට ද ගනින්.''

''අපෝයි, දිදුලෙ කැඩිල යාවි.'' එහෙම කිව්වට අයෝගා අම්මට උදවු කළේ නැහැ.

අල්ලපු ගෙදර ළමයා ඇවිත් අයෝගාගේ අම්මාට කතා කළා:

''නැන්දේ මම වතුර ගෙනැත් දෙන්නම්.''

ඒ ළමයා ගඟට ගිහිල්ලා වතුර ගෙනැවිත් දුන්නා.

අයෝගාගේ අම්මා රොටී පිච්චුවා. රොටී බොහොම පුසුඹයි. අයෝගා රොටී දැකලා අම්මාට කතා කළා:

''අම්මේ මට රොටියක් දෙන්න!''

''රොටී උණුයි, නුඹේ අත පිච්චේවි'' අම්මා අයෝගාට කිව්වා.

''මම අත් වැසුම් ඇඳ ගන්නම්!''

''අත් වැසුම් තෙමිලා.''

''මම ඒවා අව්වේ දලා වේලා ගන්නම්.''





‘‘අත් වැසුම් ඇකිලේවි.’’

‘‘මම ඒවා දිගහැර ගන්නම්.’’ අයෝගා කිව්වා.

‘‘නුඹේ අත් රිදේවි. නුඹ මොකටද වැඩ කරන්නෙ. නුඹේ ලස්සන රූපෙ අවලස්සන කරගන්නෙ මොකටද? අල්ලපු ගෙදර ළමයා වැඩට හොර නැහැ. අත් රිදෙනවට ඒ ළමයා බය නැහැ. මම ඒ ළමයාට රොටියක් දෙන්නම්.’’ අයෝගාගේ අම්මා කිව්වා.

ඇ වතුර ගෙනාපු අල්ලපු ගෙදර ළමයාට රොටියක් දුන්නා.



අයෝගා තරහ වුණා.

අයෝගා ගඟ ළඟට ගියා.

ගඟේ වතුරේ අයෝගාගේ මූණ පේනවා. ඈ ඇගේ මූණ දිහා බලාගෙන හිටියා.

අල්ලපු ගෙදර ළමයා රොටියක් කකා ගඟ ළඟට ආවා. අයෝගා තරහ වෙලා ඈ දිහා හැරිලා බැලුවා. එතකොට ඇගේ බෙල්ල බොහොම දික් වුණා.

ළමයා අයෝගාට කතා කළා:

''නුඹ මේ රොටී කෑල්ල අරගනින්. මම කෑදර නැහැ.''

ඒ පාර අයෝගා බොහොම තරහ වුණා. ඈ දැතේ ඇඟිලි දිගහැරලා දෑත් වැනුවා. ඈ කොච්චර තරහ වුණාද, ඈ සුදුමැලි වුණා. අයෝගා වගේ ලස්සන, උඩඟු ළමයෙක් ඉඳුල් රොටී කන්නේ කොහොමද! වේගයෙන් දෑත් වනනකොට ඒවා අත්තටු දෙකක් වුණා.

''මට එපා, එපා පා-පා!'' අයෝගා කෑ ගැහැව්වා.

එතකොට අයෝගා ලිස්සලා ගිහින් ගඟට වැටුණා. ඈ තාරාවියක් වුණා.





තාරාවි පීන, පීනා කෑ ගහනවා:

''මම ලස්සනයි, මම අයෝ–ගා, ගා, ගා! මම ලස්සනයි!..''

අයෝගාට ඈගේ මවු බස අමතක වෙන කල්ම ඈ කෑ ගැහැව්වා.

ඒ වුණාට නම අමතක වුණේ නැහැ. ගඟ ළඟට මිනිසුන් එන හැටි දැක්කම ඈගේ ලස්සන රූපය මතක් වෙන්ට ඈ කෑ ගහනවා:

''අ-යෝ-ගා-ගා! අයෝ-ගා-ගා-ගා!''







අනුවාදය: ද. වී. රුද්රිගු

චිත්‍ර: යෙව්ගේනි ෂුකායෙව්

**Д. Нагишкин**

АЙОГА

*на языке сингала*



$H \frac{70801\text{-}499}{014\,(01)\text{-}76} 757\text{-}76$

